වලෙරි සුස්ලොව්

# කවුද කවුද ශක්තිමත් ම

පරිවර්තනය

මහින්ද සෙනරත් ගමගේ

සිතුවම්

වී ට්‍රැබකොවිච්

පරිගණක සැකසුම

ගයානී නිලංකා ගලගෙදර


මුද්‍රණය සහ ප්‍රකාශනය



සයුරි ප්‍රින්ටර්ස් ඇන්ඩ් පබ්ලිෂර්ස්

අංක: 102/176

මත්තේගොඩ නිවාස සංකීර්ණය පාර - මත්තේගොඩ

දුර : 0115 - 676483 - 0715 - 181421

ෆැක්ස් : 0112 - 844961



පුංචි අලෙක් නිතරම ඇන්ටන්ගෙන් ප්‍රශ්න අහන එකමයි වැඩේ.
"අහස කොච්චර උසද ?"
"මුහුද කොච්චර ගැඹුරුද ?"
"පොළොවේ අනෙක් පැත්තෙන් එළියට එන්න වළක් හාරන්න පුළුවන්ද ?"

අදත් අලෙක් ඇන්ටන් පස්සෙන් වැටිලා.
"කවුද වැඩියම ශක්තිමත් ? අලියද තල්මහද ? මුළු ලෝකයෙන්ම වැඩියම ශක්තිමත් කවුද ?



ඇන්ටන්ට යන්න හදිස්සියි. එයා ලොකු මහත් වුණු කෙනෙක්. එයාට කරන්න වැඩ ගොඩක් තියෙනවා. ඒත් අලෙක්ගේ ප්‍රශ්න ඇහිල්ල ඉවරයක් නෑ.
"කවුද වැඩියම ශක්තිමත් කියලා මට කියන්න"
"ඔයාට පේනවද අර දොඹකරේ ?" ඇන්ටන් ඇහුවා.
"ඒක කෝච්චි ඇන්ජිමක් උස්සනවා"
"ඒ කියන්නේ ඒකට පුළුවනි ලේසියෙන්ම අලියෙක් නැතිනම් තල්මහෙක් උස්සන්නත්"

මේ වගේ දෙයක් අලෙක් මීට කලින් හිතලාම නෑ. එයා ටික වෙලාවක් නිහඬ වෙලා ඉඳලා ආයෙමත් කතා කළා. "එතකොට දොඹකරේට වැඩිය ශක්තිමත් මොකක්ද ?"

"පේනවද අර නිල්පාට කෝච්චි ඇන්ජිම ? ඒක කෝච්චි පෙට්ටි පණහක් ඇදගෙන යනවා. ඒ හැම පෙට්ටියක්ම කට ළඟට එනකම් බඩු පුරවලා. ඒකේ තේරුම කෝච්චි ඇන්ජිම දොඹකරේට වැඩිය ශක්තිමත් කියලා නේද ?"

"ඔව්" අලෙක් උත්තර දුන්නේ හෙමිහිට.

"එතකොට කෝච්චි ඇන්ජිමට වඩා ශක්තිමත් මොකක්ද ?"

"අර බලන්න" ඇන්ටන් වරායේ නවතා ඇති නැවක් පෙන්නුවා.

"ඒ නැවේ විශාල ලෑලි පෙට්ටි, යකඩ පෙට්ටි, මහ විශාල පීප්ප පටවාගෙන මුහුදේ යනවා. කෝච්චි විසි පහක නැතිනම් තිහක බඩු එක නැවක පටවන්න පුළුවනි. ඒවා දුර ඈත රටවලට මුහුදෙන් අරගෙන යනවා."

ඒ ගැන නම් හිතන්නට දෙයක් තිබෙනවා තමා.





අලෙක් නැවතුනා.
"මේ හැමෝගෙන්ම වැඩියම ශක්තිමත් කවුද ? වැඩිම ශක්තිමත් කෙනා ?"
"මට කරදර කරන එක නවත්තන්න අලෙක්. ඒ ගැන ඔයා තනියම හිතලා බලන්න"
අලෙක් දිගටම දිගටම දිගටම හිතුවා. ඒත් හිතාගන්න බැරි වුණා.
"බෑ බෑ, මට බෑ. ඔයාම කියන්න" අන්තිමේ එයා කීවා.
"කවුද දොඹකරේ දිග අඬුව උස්සන්නේ ? කවුද ඒක වැඩ කරවන්නේ ?"
"මං දන්නවා! දොඹකර ක්‍රියාකරු!"








"ඒතකොට පෙට්ටි පණහක් අදින කෝච්චි
ඇන්ජින් ක්‍රියාකරවන්නේ කවුද ?"
"දුම්රියේ රියැදුරු"

“නැවක් මුහුදේ අරන් යන්න පුළුවන් කාටද ?”
“මං දන්නවා, කපිතාන්ටයි නැවේ සේවක පිරිසටයි”





"එතකොට කවුද දොඹකරය, දුම්රිය ඇන්ජිම සහ නැව හැදුවේ ?"

"මිනිස්සු!"



"හොඳයි, එතකොට කවුද ලෝකෙන්ම ශක්තිමත්ම ?"
"අපි!"

සිතුවම්
වී ටිරුබිකොවිච්

පරිගණක පිටු සැකසුම්
ගයානී නිලංකා ගලගෙදර




**සයුරි ප්‍රකාශන**
**අංක 102/176**
**මත්තෙගොඩ නිවාස සංකීර්ණය පාර**
**මත්තෙගොඩ**
**දුරකතන : 0115-676483 0715 181421 ෆැක්ස් 0112 844961**



[redacted]

ISBN 978-955-1889-08-1